මට ඉතාමත්ම කෙටිකාලයකින් සැප සහිත ප්‍රතිපදාවෙන් සිව්පිළිසිඹියා සහිතව නිර්වානය අවබෝධ කරන්න හැකියාව ලැබේවා! ! !

ඊලඟ හවයේ පටන් නිවන් දකිනා ජාති දක්වා මා...
සැමවිටම මේ සක්වලේම සැපයෙන් අඩු නොවී දිව්‍ය, බ්‍රහ්ම ලෝකවල පමණක්ම ඉපදේවා!
දිව්‍ය, බ්‍රහ්ම ලෝකවල උපදින ආයුෂ නිම නොවී පුණ්‍ය නිධානයක් වේවා!
සැමවිටම මහානුභාව සම්පන්න මහේශාක්‍ය දෙවියකු ලෙසින්ම එම දිව්‍ය ලෝකවල ඉපදේවා!
සැමවිටම මහානුභාව සම්පන්න මහේශාක්‍ය බ්‍රහ්මයකු ලෙසින් එම බ්‍රහ්ම ලෝකවල ද ඉපදේවා!
සැමවිටම සිහිය විකල් නොවී ස්වභාවයෙන්ම අග්‍ර ලෙස සිහියෙන්, ප්‍රඥාවෙන් යුතුව ඒවායේ වාසය කරන්න හැකි වේවා!
සැමවිටම දිව්‍යමය රූපය, පෙනුම, වර්ණය, කටහඩ, තේජස, ශක්තිය, ප්‍රතාපවත් බව අග්‍ර ලෙසම ලැබේවා!
සැමවිටම පරිභරණයට සිතන පරිද්දෙන්ම දිව්‍යමය විචිත්‍රවත් දේවල්ම අඩු පාඩු නැතිව අග්‍ර ලෙසම ලැබේවා!
සැමවිටම සිතන පරිද්දෙන්ම පරිභරණයට දිව්‍යමය රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ අග්‍ර ලෙසම ලැබේවා!
සැමවිටම සිහිය විකල් නොවී ස්වභාවයෙන්ම සිට සිහියෙන්, ප්‍රඥාවෙන් යුතුව අග්‍ර ලෙස එම සැපයන් පරිභරනය කරන්න හැකි වේවා!
කිසිවිටක බාදාවක් නැතිව සතුටින් එම සැපයන්ට නොඇලී ඒවා අත් හැරීමට ද හැකි වේවා!
පුබ්බ නිමිති ඇතිනොවී නැවත නැවතත් දිව්‍ය, බ්‍රහ්ම ලෝකවලම ඉපදේවා!
කිසිවිටක, කිසිම හේතුවක් නිසා අකමැත්තෙන් එම දිව්‍ය, බ්‍රහ්ම ලෝකවලින් චුත නොවී දිව්‍ය, බ්‍රහ්ම ලෝකවලම නැවත නැවත ඉපදේවා!
සැමවිටම නිරන්තර සිහි නුවනින් යුතුව අග්‍ර ලෙස පින් කිරීමට හැකියාව, අවස්ථාව ලැබෙන ස්ථානවලම ඉපදේවා!
සැමවිටම නිරන්තරයෙන් සිහි නුවනින් අග්‍ර ලෙස පින් අනුමෝදන් වීමට අවස්ථාව ලැබෙන ස්ථානවලම ඉපදේවා!
උපධි සම්පත් දශමයකුදු අඩු නොවී සැමවිටම උපධි සම්පත් සර්ව සම්පූර්ණ අග්‍රව දිව්‍යමය ලෙස ලබන අයෙක්ම වේවා!

මේ හවයේ පටන් නිවන් දකිනා ජාති දක්වා මා හට...
දිව්‍ය, බ්‍රහ්ම ලෝකවලට පැමිණි වහාම මනා සිහියෙන් යුතුව දිව්‍ය, බ්‍රහ්ම ලෝකවලට පැමිණීමට කාරණා දැන අප්‍රමාදව කටයුතු කිරීමේ කැමැත්ත, හැකියාව ලැබේවා!
සැමවිටම තියුණු සිහි නුවනින් සහ තියුනු මතකයෙන් අග්‍ර අයෙක්ම වේවා!
සැමවිටම කල්‍යාණ මිත්‍රයන් වහන්සේලාගේ උපකාරය, අති විශේෂ අනුග්‍රහය අඩු නැතිව සිතගි පරිදි උසස්ම ලෙස ලැබේවා!
සැමවිටම සත්පුරුෂයන්ම ඇසුරට ලැබේවා!
සැමවිටම තථාගත ධර්මය නිවැරදිව ඒ ලෙසම අසන්න ලැබේවා!
සැමවිටම ඒ තථාගත ධර්මය ඇසීමෙන් උත්කෘෂ්ඨ දහම් රසයක් ලැබේවා!
සැමවිටම ඒ තථාගත ධර්මය ඒ ලෙසම උත්කෘෂ්ඨව නිවැරදිව දරාගන්න හැකි වේවා!
සැමවිටම ඒ තථාගත ධර්මය ඒ ලෙසම උත්කෘෂ්ඨව නිවැරදිව පිළිපදින්න හැකියාව ලැබේවා!
සැමවිටම ඒ තථාගත ධර්මය ඒ ලෙසම උත්කෘෂ්ඨව නිවැරදිව සිහි නුවනින් අර්ථ පිරික්සා විනිවිද දැකීමේ හැකියාව ලැබේවා!
එසේ අර්ථ පිරික්සා විනිවිද දැකීමෙන් උත්කෘෂ්ඨ දහම් රසයක් අත්විඳීමට හැකියාව ලැබේවා!
සැමවිටම සුමධුර ලෙසත්, විචිත්‍රවත් ලෙසත්, සිත් ඇද බැද තබා ගනිමින් ඒ තථාගත ධර්මය ඒ ලෙසම නිවැරදිව අන් අයට ද සිහි නුවනින් යුතුව කියා දීමේ හැකියාව ලැබේවා!
සැමවිටම එසේ කියා දෙන තථාගත ධර්මය අසන අයට ද සිහි නුවනින් යුතුව නිවැරදිව උපරිමයෙන් ප්‍රයෝජන ලබන්න හැකියාව ලැබේවා!

අසිරිමත් වූ අවබෝදාත්මක ශ්‍රද්ධාවෙන් සම්මා සම්බුදුවරුන් දැක උන්වහන්සේලාට දෙව්ලොව සිට අතවැසිකම් කිරීමේ භාග්‍ය ලැබේවා!
අප්‍රමාදව තියුණු ලෙස සමාධිය දියුණු වීමට කිසිම ආකාරයේ බාදාවක් ඇති නොවේවා!
අප්‍රමාදව තියුණු ලෙස සමාධිය දියුණු වී කැමති කැමති තාක් සමාපත්තීන්ට, කැමති කැමති තාක් කාලයක් සමවැදීමට නිදුකින්ම හැකියාව ලැබේවා! එයින් උත්කෘෂ්ඨ සැපයක් අත්විදින්න හැකියාව ලැබේවා!
අප්‍රමාදව තියුණු ලෙස සමාධිය දියුණු වී කැමති කැමති තාක් සමාපත්තීන්ට, කැමති කැමති තාක් කාලයක් සමවැදීමට කිසිදු බාදාවක්, කරදරයක්, පීඩාවක්, උවදුරක් කිසිම දෙයකින්, කෙනෙකුගෙන් ඇති නොවේවා!
පින්කරන, මාර්ගඵල අවබෝධයට කටයුතු කරන අයට අප්‍රමාදව අග්‍ර වූ සතුටකින් යුතුව උදව්, උපකාර කරන්න අවස්ථාව, හැකියාව ලැබේවා!
සැමවිටම නෑ, බෑ නොකියා ශ්‍රද්ධාවෙන් සිල්වත්ව, සම්පූර්ණයෙන්ම අත්හැර නුවනින් යුතුව ත්‍රිවිධරත්නයට, මාර්ගඵල ලාභීන්ට උතුම්ම දේත් අග්‍රම දේත් දන් දීමට අවස්ථාව, හැකියාව ලැබේවා!
සැමවිටම නෑ, බෑ නොකියා ශ්‍රද්ධාවෙන්, සම්පූර්ණයෙන්ම අත්හැර නුවනින් යුතුව දන් දීමේ අවස්ථාව, හැකියාව ලැබේවා!
සැමවිටම සියළු පින්, පව් දැන හඳුනාගෙන සතුටු සිතින් පවෙන් මිදෙන්න හැකියාව ලැබේවා!
සැමවිටම දස කුසල් අග්‍ර ලෙස උපද්දවන්න හැකියාව ලැබේවා!
සැමවිටම පිනෙන් පව් නැතිව පිනම අග්‍ර ලෙස උපද්දවන්න හැකියාව, අවස්ථාව ලැබේවා!
සැමවිටම සිහි නුවනින් උතුම් ලෙසත් අග්‍ර ලෙසත් පින් ඉපදවීමේ හැකියාවත්, දක්ෂතාවයත් ලැබේවා!
සැමවිටම සිහි නුවනින් නිර්මාණශීලීව විචිත්‍රවත්, අසිරිමත් පින්කම් කිරීමේ හැකියාව, අවස්ථාව ලැබේවා!
ඒ පින්කම් දකින දකින රජ, මැති, ඇමති, සිටුවරු, මහජනයා මහා ප්‍රීතියකින් පිනාගොස් ශ්‍රද්ධාවෙන් අසීමිත පින් රැස්කරත්වා!
සැමවිටම සියළු ශිල්ප ශාස්ත්‍ර දන්නා තියුණු නුවනින් කැමති කැමති දේ අර්ථ පිරික්සා විනිවිද දකින්න හැකියාව ලැබේවා!
සැමවිටම ඒ සියළු ශිල්ප ශාස්ත්‍ර සැම ආකාරයකින්ම ප්‍රයෝජනයට ගැනීමමේ හැකියාව, අවස්ථාව, දක්ෂතාවය ලැබේවා!

මේ භවයේ පටන් නිවන් දකිනා ජාති දක්වා මා..
සැමවිටම දීර්ඝායුෂම ඇත්තෙක්ම වේවා!
සැමවිටම අග්‍ර ලෙස භාග්‍යවන්ත, පුණ්‍යවන්ත, උත්සාහවන්ත, ඔදතෙද ඇත්තෙක් වේවා!
සැමවිටම නිරන්තරයෙන් අන් අයගේ සිත් තුළ ආදරය, කරුණාව, දයාව, මුදිතාව, මෛත්‍රිය උපදවන්නෙක්ම වේවා!
සැමවිටම නිරන්තරයෙන් අන් අයට අග්‍ර ලෙසම ප්‍රිය උපදවන්නෙක්ම වේවා!
සැමවිටම නිරන්තරයෙන් අන් අයගේ සිත් ත්‍රිවිධ රත්නය කෙරෙහි උසස් ලෙසින්ම පහදවන්නෙක්ම වේවා!
සැමවිටම සියළු කාර්යේ අග්‍ර ලෙසම දක්ෂ, වේගවත් අයෙක් වෙත්වා!
සැමවිටම සියළුම ආකාරයේ සැපයන්ට බාදා, කරදර, පීඩා, අඩු පාඩු, උවදුරු නැති අයෙක්ම වේවා!
සැමවිටම දුක්, කරදර, හිංසා, පීඩා, බිය, සංකා නැති අයෙක්ම වේවා!
සැමවිටම අග්‍ර ලෙස දිව්‍යමය ප්‍රීතිය, සතුට, සැනසිල්ල, ප්‍රභෝධය, සැපය ලබන අයෙක්ම වේවා!
සැමවිටම අග්‍ර ලෙස ධෛර්ය, වීර්ය, කීර්තිය, ප්‍රසංසාව, යසස, ප්‍රසිද්ධිය ඇති අයෙක්ම වේවා!
සැමවිටම අන් අය අතර අඩු පාඩුවක් නැතිව අවශ්‍ය සියළුම දේ උතුම් ලෙසත්, අග්‍රම ලෙසත් ලබන්නෙක්ම වේවා!
සැමවිටම ලැබෙන සියළුම දේ සිත්සේ, බාදාවක් නැතිව නිදුකින්ම පරිහරණය කිරීමට හැකියාව ලබන අයෙක්ම වේවා!
සැමවිටම ලැබෙන සියළුම දේ සිත්සේ, බාදාවක් නැතිව නිදුකින්ම අත්හැරීමට ද හැකියාව ලබන අයෙක්ම වේවා!
සැමවිටම දන් දෙන්න දෙන්න සියළු සැප, සම්පත්, වස්තුව, භෝගසම්පත් වැඩි වෙන අයෙක් වේවා!
සැමවිටම සියලු ලෙඩ රෝග, අනතුරු, විපත්වලින්, අඩු පාඩු වලින් සම්පූර්ණයෙන්ම තොර වූ අයෙක්ම වේවා!

සැමවිටම කරන, කියන සෑම දෙයක්ම උතුම් ලෙසම, අග්‍ර ලෙසම, අඩුපාඩුවක් නැතිව සාර්ථකවෙන අයෙක්ම වේවා!
සැමවිටම සියළු ආකාරයේ මිහිරි දේත්, ප්‍රිය උපදවන දේත්, දැකුම්කළු දේත් ලැබෙන, දකින අයෙක්ම වේවා!
සෑම කල්හිම තෙරුවණ කෙරෙහි ශ්‍රද්ධාවෙන්, ප්‍රඥාවෙන් අඩු නොවූ අයෙක්ම වේවා!
මේ භවයේ පටන් නිවන් දකිනා ජාති දක්වා මා නොකල් අටෙන් මිදුන අයෙක්ම වේවා!
සැමවිටම සම්‍යක් දෘෂ්ඨික අයෙක්ම වේවා! කිසිවිටක, කිසිදු ආකාරයකින් මිත්‍යා දෘෂ්ඨික නොවේවා!
කිසිවිටක කල්‍යාණ මිත්‍රයන් වහන්සේලාට සතුරු නොවෙත්වා!
කිසිවිටක ත්‍රිවිධ රත්නය කෙරෙහි අකුසල සිත් ඇති නොවේවා!
කිසිවිටක දන් පින්කම් කිරීමේ දී බාදා, අවහිරතා, ගැටලු, ප්‍රමාදයන් ඇති නොවේවා!
කිසිවිටක අකුසල් සිදු කිරීමට පසුබිමක්, අවස්ථාවන් ඇතිවන අයෙක් නොවේවා!
කිසිවිටක අල්පායුෂ ඇත්තේක් නොවේවා!
කිසිවිටක සතර අපාය හෝ අපාය යන නාමයක්, සමානකමක් ඇති, දුක් සහිත තැනක ඉපදීමක් සිදු නොවේවා!
කිසිවිටක වෛර, ක්‍රෝධ, ද්වේෂ, ඊර්ෂා, ගැරහුම්, පළිගැනීම් හෝ වෙනත් කවර හෝ දුර්ජන සිත් ඇත්තෙක් නොවේවා!
කිසිවිටක අහංකාර, මාන්නක්කාර, උඩගු ස්වභාවයන් ඇති අයෙක් නොවේවා!
කිසිවිටක අන් අයගේ සිත් තුළ වෛර, ක්‍රෝධ, ද්වේෂ, ඊර්ෂා, ගැරහුම්, පළිගැනීම්, චෝදනා හෝ වෙනත් කවර හෝ දුර්ජන සිත් උපදවන්නෙක් ද නොවේවා!
කිසිවිටක සිතින්, කයෙන්, වචනයෙන් දස අකුසල් උපද්දවන කෙනෙකු නොවේවා!
කිසිවිටක අමනුෂ්‍යයින්ගෙන්, සතුන්ගෙන්, මනුෂ්‍යයින්ගෙන් කරදර හිරිහැර ඇති නොවේවා!
කිසිවිටක අන් අයට වැරදි කරන්නෙක් නොවේවා!, දඩුවම් කරන්නෙක් ද නොවේවා!
කිසිවිටක වැරදි දේ කරන්නෙක් නොවේවා!, වැරදි කරුවෙක් ද නොවේවා!, දඩුවම් ලබන්නෙක් ද නොවේවා!
කිසිවිටක අන් අයට මා කෙරෙහි වෛර, ක්‍රෝධ, ඊර්ෂා, කවර හෝ සතුරු සිත්, දුර්ජන සිත් ඇති නොවේවා!
කිසිවිටක අන් අයගේ වෛර, ක්‍රෝධ, ද්වේෂ, ඊර්ෂා, ගැරහුම්, පළිගැනීම්, චෝදනා හෝ වෙනත් කවර හෝ දුර්ජන ක්‍රියා වලට ලක් වන්නෙක් ද නොවේවා!
කිසිවිටක දැන හෝ නොදැන මා අතින් සතුන් නොමැරේවා
කිසිවෙකු කෙරෙහි බැඳීම් ඇති නොවේවා

මේ භවයේ පටන් නිවන් දකිනා ජාති දක්වා මා හට..
කිසිවිටක නින්දා, අපහාස, උපහාස, මදිපුංචිකම්, පහත්කොට සැලකීම් නොලැබේවා!
කිසිවිටක අසත්පුරුෂයන්, දුර්ජනයන් ඇසුරට හමු නොවේවා!
කිසිවිටක සොරුන්, සතුරන්, වංචාකාරයන් යන නාමයක්වත් අසන්නට, දකින්නට, හසුවන්නට ඉඩක් නොලැබේවා!
කිසිවිටක අන් අයට මා සතු දේ මගේ අවසරයෙන් තොරව ලබා ගැනීමට නොහැකි වේවා!
සැමවිටම මා සතු සියළු සැප, සම්පත්, වස්තුව කිසිදු උවදුරකට හසු නොවේවා!

මාගේ මරණාසන්න මොහොතේ දී දිව්‍ය ලෝකවල උපදින්න හේතුවෙන සුභ නිමිතිම දකින්න ලැබේවා!

ඊලඟ භවයේ පටන් නිවන් දකිනා ජාති දක්වා මේ සියලු ප්‍රාර්ථනා අඩු පාඩු නැතිව එකවිට ඉටු වේවා!
මෙතෙක් මේ භවයේත් පෙර සසරේත් කරන ලද සියළු පින්කම් ද රකින ලද සීලයන් ද ඊලඟ භවයේ පටන් නිවන් දක්නා ජාති දක්වා මේ සියලු ප්‍රාර්ථනා අඩු පාඩු නැතිව එකවිට ඉටු වීමට හේතු වේවා!, වාසනා වේවා!

දෙවියන්ට පින් අනුමෝදන් කිරීම

සහම්පතී මහා බ්‍රහ්මරාජයන්, සමන්කුමාර බ්‍රහ්මරාජයන්, සථිකාර බ්‍රහ්මරාජයන්, තිස්ස බ්‍රහ්මරාජයන්, සුද්ධාවාසී සියළුම බ්‍රහ්මරාජයන් වහන්සේලා, සදෙව් ලෝක වාසී මෛත්‍රී මහ බෝසතානන්, සක් දෙවිඳුන්, දසරාක්ෂ, විරූඩ, විරූපාක්ෂර, වෛශවන සතරවරම් දෙවියන්, සුමන සමන් දෙවියන්, වෙසමුනි දෙවියන්, විශ්වකර්ම දිව්‍ය පුත්‍රයන්, කළුබණ්ඩාර දෙවියන්, විෂ්ණු දෙවියන්, කතරගම දෙවියන්, යම දෙව් රජතුමා, ඇතුළු සියළුම ආර්යන් වහන්සේලාට මා රැස්කල පින් අනුමෝදන් කරමි. අනුමෝදන් වේවා!

1. පංච ධර්මය (ශ්‍රද්ධාව, ශීලය, ශ්‍රුතය, ත්‍යාග, ප්‍රඥා) මත සිට පින්දහම් සිදු කර ප්‍රාර්ථනා කරන්න. මේ භවයේ විපාක අනියතයි. නමුත් ඊලග භවයේ පටන් නිවන් දක්නා ජාති දක්වා ඒ ප්‍රාර්ථනා ඉටුවන බව ඒකාන්තයි.

ශ්‍රද්ධා වන්තව දන් දීම
සිල්වත්ව දන් දීම (තිසරණ සහිත පන්ච සීලය සමාදන් වී දන් දීම)
සිල්වතුන්ට දන් දීම
ධාර්මිකව උපයාගත් ධණය වැය කිරීම
කර්මය සහ කර්ම ඵලය ගැන විශ්වාසය
මෙසේ අග්‍ර ලෙස පින්දහම් සිදු කිරීමෙන් ප්‍රාර්ථනාව උසස් ලෙසින් ඉටුවන බව සහතිකයි.

2. දෙවියන්ට පින් රැස්කරගත හැකියි. මේ නිසා දිගින් දිගටම දෙවියන්ට පින් රැස් කරමින් එහිම සිටීමේ හැකියාව තිබේ.

3. මේ සක්වලේ හිටියොත් දෙවියන්ට පින් රැස්කරගත හැකි වෙනවා. දෙවියන්ට නොපෙනෙන දුර සක්වලක හිටියොත් අප අනුමෝදන් කරන පින් අනුමෝදන් වෙන්න බැරි වෙනවා.

දිව්‍ය ලෝක 6

චාතුර්මහාරාජිකය -
මෙහි රජවරු හතර දෙනෙක් පාලන කටයුතු බාරව සිටියි. දිව්‍ය වර්ෂ වලින් වසර 500 ආයුෂ මෙහි ඇත. මෙහි එක දිනක් මිනිස් ලොව අවරුදු 50 කට සමානය. ඒ අනුව චාතුර් මහා රාජිකයේ උපන් අයෙකුගේ පරමායුෂ මිනිස් ලොවේ වර්ෂ වලින් වර්ෂ අනු ලක්ෂයකි. මෙහි සතරවරම් දෙවිවරු වැඩ වාසය කරයි.
(මනුලොව වසර 50 – 1දිනක්, දිව්‍ය අවුරුදු 500 පරමායුෂ මිනිස් ලොවේ වර්ෂ වලින් වර්ෂ අනු ලක්ෂයකි)

තාවතිංසය (තව්තිසාව) -
තාවතිංසය හෙවත් තව තිසා දෙව් ලොව පිහිටා ඇත්තේ චාතුර්මහාරාජිකය ට එපිටිනි . එහි ආයුෂ දිව්‍ය වර්ෂ 1000 කි. එහි දිනක් මිනිස් ලොව අවරුදු 100 කි. ඒ අනුව තව්තිසාවෙහි පරමායුෂ අවරුදු තුන් කොටි හැට ලක්ෂයකි. දෙව් ලොවට අධිපති ශක්‍රයා සිටිනුයේ තව් තිසාවෙහිය . සිළුමින සෑය, සුධර්මා දේව සභාව මෙහි ඇත.
(මනුලොව වසර 100 – 1දිනක්, දිව්‍ය අවුරුදු 1000 පරමායුෂ මිනිස් ලොවේ වර්ෂ වලින් අවරුදු තුන් කොටි හැට ලක්ෂයකි)

යාමය (දුකෙන් පහවූ දිව්‍ය ලෝකය) -
යාමය ඇත්තේ තව්තිසාවට එපිටිනි. යාමයෙහි වැසියෝ දිව්‍ය වර්ෂ 2000 පරමායුෂ විදිති . එහි එක් දිනක් මිනිස් ලොව වසර 200 ක් වන අතර ඒ අනුව මනුෂ්‍ය වර්ෂ දාහතර කොටි හතලිෂ් ලක්ෂයක් ජීවත්වීමට යාමයෙහි වැසියන්ට වරම් ඇත. යාම රජු සිටිනුයේ යාමයෙහි බව සමහරු සිතති. තවත් අය කියන පරිදි යාම රජු යනු චාතුර්මහාරාජිකය සිටින වයිශ්ෂණ නම් පාලකයාය. එනමුත් අපායෙහි වෙනම රජ කෙනෙක් සිටින බව දේව දූත සූත්‍රයේ එන කරුණු වලින් පැහැදිලි වේ .
(මනුලොව වසර 200 – 1දිනක්, දිව්‍ය අවුරුදු 2000 පරමායුෂ මිනිස් ලොවේ වර්ෂ වලින් වර්ෂ දාහතර කොටි හතලිස් ලක්ෂයක්)

තුසිතය (සන්තුසිත දිව්‍යරාජයා අධිපතිත්වය දරයි) -
තුසිතයේ වැසියෝ සැමවිටම සතුටින් කල් ගෙවති, තුසිත හෙවත් "සන්තුසිත" දෙව් ලොවට එම නම ලැබුනේ එලෙසිනි. තුසිතයේ වැසියන් සතුටින් සිටිනුයේ මතු මෛත්‍රී නමින් බුදු වන මෛත්‍රී බෝසතුන් එහි වැඩ සිටින බැවිනි. තුසිතය තුල ඇති ධාර්මික පරිසරය නිසා බොහෝ බොදුනුවෝ මරණින් මතු තුසිත දෙව් ලොව ඉපදීමට රිසිව පින් කරනු ලැබේ . මෙහි ආයුෂ දිව්‍ය වර්ෂ 4000 කි. එහි එක දිනක් මිනිස් වර්ෂ 400 කි. එබැවින් තුසිතයේ වැසියන්ට වර්ෂ 57 කොටි 60 ලක්ෂයක් පරමායුෂ විදිය හැකියි. සිදුහත් බෝසත්හු මෙලොව පහල වීමට පෙර තුසිත දෙව් ලොවෙහි ශ්වේත කේතු නම් දිව්‍ය පුත්‍රව සිටියේය.
(මනුලොව වසර 400 – 1දිනක්, දිව්‍ය අවුරුදු 4000 පරමායුෂ මිනිස් ලොවේ වර්ෂ වලින් වර්ෂ 57 කොටි 60 ලක්ෂයකි)

නිර්මාණරතිය -
මෙය සුවිශේෂී දෙව් ලොවකි. මෙහි වැසියන්ට තමන් වෙනුවෙන් සැප සම්පත් නිර්මාණය කල හැක. එබැවින් එහිදී විදිය හැකි සැප සම්පත් වල සීමාවක් නොමැත. මෙහි ආයුෂ දිව්‍ය වර්ෂ 8000 කි. මිනිස් වර්ෂ 800 එහි එක් දිනයකි. ඒ අනුව එහි පරමායුෂ මිනිස් ලොව අනුව වර්ෂ 230 කොටි 40 ලක්ෂයකි. ("මනාප කායික" නම් වූ දේව විශේෂයක් නිර්මාණ රතියෙ සිට බුදුන් දැක්මට පැමිණි බව ධර්මයෙහි සඳහන්ය.)
(මනුලොව වසර 800 – 1දිනක්, දිව්‍ය අවුරුදු 8000 පරමායුෂ මිනිස් ලොව අනුව වර්ෂ 230 කොටි 40 ලක්ෂයකි)

පරනිම්මිත වසවර්තිය -
අවසාන දිව්‍ය ලෝකයයි. වැඩිම කම් සැප ඇත්තේද මෙහිය. මෙහි වැසියන්ට තමන් වෙනුවෙන්ද අනුන් වෙනුවෙන්ද පස්කම් සැප නිර්මාණය කල හැකිය. එහෙයින් මෙහි ඇති සැපයෙහි සිමාවක්ද නොමැත. මෙහි ආයුෂ දිව්‍ය වර්ෂ 16000 කි. මිනිස් වර්ෂ 1600 එහි එක් දිනයකි. ඒ අනුව වර්ෂ 921 කොටි 60 ලක්ෂයක් දිව්‍ය සැප විදීමට මෙහි වැසියන්ට හැකිය. වසවර්ති මාර දිව්‍ය පුත්‍රයා මෙහි අධිපති බව කියවේ.
(මනුලොව වසර 1600 – 1දිනක්, දිව්‍ය අවුරුදු 16000 පරමායුෂ මිනිස් ලොව අනුව වර්ෂ 921 කොටි 60 ලක්ෂයකි)